ඔන්න
බබෝ බිල්ලො
එනවා.



# කලා

කොළඹ මහ තැපැල් හලේ ලියා පදිංචි කරණ ලදී.

20 වැනි කාණ්ඩය

11 වැනි කලාපය

1974 අගෝ: 15 නා: 30

කාර්‍යාලය:

117, අලුත් කෙවෙල් වීදිය,
කොළඹ-13.

ඇමි: 33291 - 33292

මිළ ශත -/60.

සංස්කාරක:

ආරියරත්න කහවිට

## මුල් පිටුව

ගාමිණී ෆොන්සේකා සහ සවර්ණා කහවට 'ඔන්න බබෝ බිල්ලෝ එනවා.' චිත්‍රපටියේ රඟපාන ජවනිකාවකින් අද 'කලා' මුල් පිටුව ඔපවත් වෙයි. ප්‍රථමවරට සිංහල රිදී තිරයේ ඉන්ද්‍රජාල කතාවක් රැගත් මේ චිත්‍රපටයේ ජෝ අබේවික්‍රම, පියදාස විජේකෝන්, ජීවරත්න නායක, රෙක්ස්, මොරිස් දෙන්, බී. එස්., පරිනා, අග්‍රා රඟපාති. පී. එල්. ඒ. සෝමපාල සංගීතය සපයයි. ලෙනින් මොරායස් අධ්‍යක්ෂණය කර ඇත. දැනට සිනමාස් සිනමාහල් 20 ක සමගාමී ලෙස ප්‍රදර්ශනය වන මේ චිත්‍රපටියේ නිෂ්පාදකවරයා ගුණදාස මාරසිංහය.



සයිරාබානු මෙසේ රඟපාන මේ ජවනිකාව දැන් බොරැල්ලේ ලිඩෝ සිනමාහලේ පෙන්වන ඊස්ට්මන් වර්ණ 'වික්ටෝරියා 203' චිත්‍රපටියෙනි. නවීන් නිශ්චල් ප්‍රධාන නළු චරිතය රඟපාන මේ චිත්‍රපටිය කල්‍යාන්ජි - ආනන්ද්ජීගේ මියුරු සංගීතයෙන් රසවත් වී ඇත.

## උත්තත් දූගයි එළිමහනේ

සත්ධා ෆිල්ම්ස් වෙනුවෙන් යූ. ඩබ්ලිව්. සුමතිපාල විසින් නිෂ්පාදනය වනුලබන 'උත්තත් දූගයි මලත් දූගයි' චිත්‍රපටිය සඳහා එළිමහන් දර්ශණ රැසක් ඉකුත් සතියේ නුවර, නුවරඑළිය සහ බදුල්ල යන ප්‍රදේශවලදී කැමරාවට ගන්නා ලදී. මාලිනී ෆොන්සේකා, විජය කුමාරණතුංග, සවර්ණා කහවිට, ශ්‍යාමා අල්නම, ටෝනි රණසිංහ සහ ජෝ අබේවික්‍රම මෙම දර්ශණවල පෙනීසිටි අතර ලතා වල්පොල සහ කේ. ජේත තනි ගී දෙකක්ද එච්. ආර්. ජෝතිපාල සහ ඇන්ජලින් ගුණතිලකගේ යුග ගී දෙකක්ද මෙහිදී චිත්‍රපටි ගතකර ඇත. සරත් දසනායකගේ සංගීතයට මේ ගීත හතර ලියා ඇත්තේ කරුණාරත්න අබේසේකර විසිනි.

## "කලා" බෙදාහැරීමේ වෙනසක්

මින් ඉදිරියට "කලා" ලබා ගැනීමට අවශ්‍ය උප ඒජන්ත මහතුන් පහත සඳහන් ලිපිනයට ලියන්න විශේෂ කොමිස් දෙනු ලැබේ

ධර්මදාස කුලතුංග
ශාන්ති පොත්හල,
පිටකොටුව

## මීළඟට ගීතවතා

සිංහගිරි නිෂ්පාදකයින්ගේ 'ඔන්න බබෝ බිල්ලෝ එනවා' චිත්‍රපටියෙන් පසු සෙවන් ආර්ට්ස් ගේ 'දුප්පතාගේ ගීතවතා' සිනමාස් සිනමාහල්වල පෙන්වීමට නියමිතය.

ප්‍රකට නළුවකු වන ඔස්ටින් ප්‍රනාන්දු විසින් පදවා ඔහු විසින්ම ප්‍රධාන නළු චරිතය රඟපාන මේ චිත්‍රපටියේ ප්‍රධාන නිළිය නීටා ප්‍රනාන්දුයි. මෙහැර එච්. ඩී. කුලතුංග, එඩී ජයමාන්න, ශාන්ති ලේඛා, රෙක්ස් කොඩිප්පිලි, ක්‍රිස්ටි ලෙනාඩ් පෙරේරා, දොන් සිරිසේන, බී. එස්. පෙරේරා, පරිනා ලයි, නිමී, අරුණ ශාන්ති, වින්සන්ට් වාස් සහ ජනප්‍රිය නැටුම් අධ්‍යක්ෂවරයකු වන රොනල්ඩ් ප්‍රනාන්දු රඟපාන 'දුප්පතාගේ ගීතවතා' චිත්‍රපටියේ කැමරා අධ්‍යක්ෂක වාමදේවයාය. රෙක්ස් මී සංගීතය සපයා ඇත. එච්. ආර්. ජෝතිපාල, ඇන්ජලීන් ගුණතිලක සහ හරුන් ලන්ත්‍රා පසුබිම් ගී ගයති. කරුණාරත්න අබේසේකර ගීත ලියා ඇත. දෙබස් ආරියරත්න කහවිටගෙනි.

කලින් චිත්‍රපටි කිහිපයකම අධ්‍යක්ෂවරයකු ලෙස කටයුතු කළ ඇස්. වී. චන්ද්‍රන් 'දුප්පතාගේ ගීතවතා' අධ්‍යක්ෂණය කර ඇත.

## ලස්සණ දවසක් සම්මතයි

තිමල් ද සිල්වා විසින් අධ්‍යක්ෂණය කොට නිෂ්පාදනය කරණ ලද 'ලස්සණ දවසක්' චිත්‍රපටිය ඉකුත් 16 දා චිත්‍රපට දර්ශක මණ්ඩලයට පෙන්වා මහජන ප්‍රදර්ශනය සඳහා අනුමැතිය ලබා ගෙන ඇත.

විජය කුමාරණතුංග, සවර්ණා කහවිට ශ්‍රියානි අමරසේන එඩී ජයමාන්න රෙක්ස් කොඩිප්පිලි, සෝමසිරි දෙහිපිටිය, ඔසී ගුණසිංහ රඟපාන මේ චිත්‍රපටියේ කැමරාව ලාල් දිසානායක මෙහෙයවා ඇත. සංගීතය පී. එල්. ඒ. සෝමපාල ගෙනි. ආරියරත්න කහවිට මෙහි කතාව සහ දෙබස් ලියා ඇත.

# සිංහලෙන් හින්දි

4 වෙනි පාඩම — පාඨ චාර්

පසුගිය පාඩමෙහි එනම් තුන්වැන්නෙහි සඳහන් අලුත් වචන කීපය දැන් වාක්‍යවල යෙදෙන අයුරු ඉගෙන ගන්න.

'මම පිරිමි ළමයෙක් වෙමි.' මෙම වැකිය හින්දියෙන් පැවසිය යුත්තේ කෙසේද? මම හින්දියෙන් 'මෙං' බව ඔබ දන්නවා. එසේනම් 'මෙං' කියා පටන් ගත් කල එහි ක්‍රියාපදය වර්තමාන කාලයෙන් අවසන් කළ යුත්තේ කෙසේද? පළවෙනි පාඩම ඔබට මතක නම් ඔබ මෙසේ පවසනු ඇත

'මෙං ලඩ්කා හූං' - මම පිරිමි ළමයෙක් වෙමි.

මෙය බහුවචනයෙන් පැවසිය යුත්තේ මෙසේය.

'හම් ලඩ්කේ හෛං, - අපි පිරිමි ළමයි වෙමු මෙහි දී නාම පදයත් වෙනස්වී ඇති බව ඔබට පෙනෙනු ඇත. 'මෙං' හම් වී ඇත 'ලඩ්කා' ලඩ්කේ වී ඇත. 'හූං' හෛං වී ඇත. හෛං යනු බහු වචන ක්‍රියා පදයයි.

1 යහ කමරා ජෝටා හෛ - මේ කාමරය කුඩාය.
2. ඝෝඩා දෞඩතා හෛ - අශ්වයා දුවයි.
3. යහ මේරා මකාන් හෛ - මේ මගේ නිවාසය.
4. මේරා පිතා ජාතා හෛ - මගේ පියා යයි.
5. යහාං නේතා කෞන් හෛ? - මෙහි ජනනායකයා කවුද?
6. අධ්‍යාපිකා ස්කූල් ජාතී හෛ - ගුරුවරිය පාසැල් යන්නීය
7. ආද්මී දිවාර් බනාතා හෛ - මිනිහා බිත්තිය සාදයි.
8, සිපාහී කාම් කරතා හෛ - භටයා වැඩ කරයි.
9. වහ බාත් සුනතා හෛ - ඔහු කතාව අසයි.
10, වහ ඒක් මජ්ලී හෛ - ඒ එක් මාලුවෙකි.

පාඩම සකස් කිරීම සහ මෙහෙයවීම

රත්නසිරි සමරසේකර විසිනි

## 'සෝපාක' කරලියේ

පිබිදෙන කලා කවය හින්දි 'සෝපාක' ළමා [illegible] නාටකය මේ මස 3 සහ 24 යන දිනවල ඩාර්ලි පාර් මහජන පුස්තකාලය අසලදී වේදිකා ගතවේ.

මල්කාන්ති ජයසේකර, සුනිත් රත්නසිරි බණ්ඩාර, ගැමිණි ධර්මසිරි අරුනමල් ප්‍රනාන්දු, ජයමිනී හේරත් ආරච්චි, අතුල [illegible] ආරච්චි, රේනිත් පිල්ලේ, නිහාල් ප්‍රේමසිරි, සුමන් කෙවී ආරච්චි, දුයන්ති දසනායක, ජනක සෝමරත්න, අමිතා සෝමරත්න, ශ්‍රියානි චන්ද්‍රලතා, මංගලිකා මල්කාන්ති, ශ්‍රියානි පද්මලතා සහ පුෂ්පලතා රඟපාන නාටකයේ කතාව ලියා නිෂ්පාදනය කරන්නේ ඊ එම් පී බණ්ඩාරය. අධ්‍යක්ෂක ගාමිණී පෙරේරාය. මෙහි දෙබස් සහ ගීත රචනය ඇලිස්වත් දිසානායක ලියා ඇති අතර සංගීතය ඒ ජේ කරීම් සපයයි. පී මේනුසේන නාට්‍ය මෙහෙයවයි. වේදිකා සැරසිලි සහ විදුලි ආලෝක නිර්මාණ එන් කීර්තිසිරිගෙනි.

## වහිදා විවාහ වෙයි

හින්දි තිරයේ දැරණී මෙන්ම ජනප්‍රිය නිළියක වන වහිදා රෙහමාන් ඉකුත්දා විවාහ වූවාය. වහිදා විවාහ වූයේ ඇය සමඟ මීට අවුරුදු දහයකට පමණ පෙර 'ෂගුන්' චිත්‍රපටියේ රඟපෑ කමල් ජීත් සමඟය

වහිදා - ගුරුදත්ගේ සී අයි ඩී. චිත්‍රපටියෙන් හින්දි සිනමාවට පිවිසි අතර කමල්ජීත් මොංහල්ගේ '[illegible]' චිත්‍රපටියෙන් සිනමාවට පිවිසියේය. අවුරුදු හතකට පෙර සිනමාවෙන් ඉවත්වී කමල් කැනඩාවට ගොස් වෙළඳ ව්‍යාපාරික කටයුතුවල නිරතවී සිටී. ඇතැම්විට වහිදා දැනට බාරගත් චිත්‍රපටිවල වැඩ අවසන් වූ පසුව කමල් සමග පදිංචියට කැනඩාවට යාමට ද ඉඩ ඇත

කලින් වහිදා රෙහමාන් විවාහ වීමට බලාපොරොත්තු වූ සිටියේ ගුජරාට වෙළඳ ව්‍යාපාරිකයෙකු වූ පරීඛ් අහමඩ් සමගය

හින්දි තිරේ තවත් ජනප්‍රිය නළු නිළි යුවළක් වන ජිතේන්ද්‍ර සහ හේමා මාලිනිද ළඟදී විවාහ ගිවිසගෙන ඇතැයි දැනට ඔත් කටකතා පැතිර ගොස් ඇත. එය බොරුවකැයි හේමාගේ මව පවසන අතර ඇය ඒ පිළිබඳ කිසිවක් නොකියයි.

## නිළි රෝගය රහසකි

හින්දි තිරයේ ඉතාමත් ජනප්‍රිය නිළියක වූ සයිරා බානු බලවත් ලෙස රෝගාතුර වී ළඟදී ද ඇමෙරිකාවට බලා පිටත්ව ගියාය. ඇගේ අසනීපය ඉතාමත්ම රහසිගතව තබා ඇති අතර ඇගේ අසනීපය ගැන කිසිවක් හෙළිදරව් නොවන ලෙස කටයුතු කර තිබේ

මේ නිසා සයිරා රඟපාන චිත්‍රපටි රැසක වැඩ අතරමඟ නතරකර තිබේ

ඇය විවාහවී සිටින්නේ සුප්‍රසිද්ධ දිලිප් කුමාර් සමඟය.





# ජනාධිපති සම්මානය මේ චිත්‍රපටියට

ඉන්දියානු රජය මගින් වර්ෂයක් පාසා පිරිනමනු ලබන ජනාධිපති රන් පදක්කම ඇතුලු සම්මාන රැසක් මෙවර දිනාගෙන ඇත්තේ ඉන්දියාවේ තමිල් චිත්‍රපටි මගිනි

රජය මගින් පිරිනමන ඉහලම සම්මානය වූ ජනාධිපති රන් පදක්කම දිනාගෙන ඇත්තේ 'නිර්මාලයම්' නමැති මලයාලම් චිත්‍රපටියයි දෙවැනි සම්මානය වූ ජනාධිපති රිදී පදක්කම 'කාඩු' නමැති කන්නඩ චිත්‍රපටිය දිනාගෙන තිබේ. හින්දි චිත්‍රපටියක් වූ 'ගරම් හාවා' චිත්‍රපටියට විශේෂ සම්මානයක් පිරිනමා ඇත

හොඳම නලුවා ලෙස 'නිර්මාලයම්' චිත්‍රපටියේ රඟපෑ පී. ජේ ඇන්තනි තේරී සිටින අතර 'කාඩු' චිත්‍රපටියේ නන්දනී හොඳම නිලිය ලෙස තේරී ඇත.

# රංගරාඕ මියයයි

ද්‍රවිඩ තිරයේ පැරණි එමෙන්ම ජනප්‍රිය දක්ෂ නළුවෙකු වූ ඇස්. වී රංගරාඕ පපුවේ හැදුණු අබ රුවකින් පෑළගිය 18 දා මදිරාසියේදී මියගියේය. ඔහු මියයන විට ඔහුගේ වයස අවුරුදු පනස් හයකි. ඔහුට එක් පිරිමි දරුවෙකු සහ දූවරුන් දෙදෙනෙකු සිටී 1946 දී වරුථිනී නමැති තෙලිගු චිත්‍රපටියෙන් සිනමාවට පිවිසි රංගරාඕ 'පාතාල භෛරවි - අඩික්කාද මෙලෙයි - කත්තබොම්මන් දෙයිවම්' වැනි චිත්‍රපටි 300 ක පමණ රඟපෑවේය

ඔහු විසින් 'බන්දව්‍යාලු' නමැති තෙලිගු චිත්‍රපටියේ නිෂ්පාදක අධ්‍යක්ෂවරයා ලෙස ක්‍රියා කල අතර ඔහු චිත්‍රපට රැසක් නිෂ්පාදනය කලේය.



නීටා ප්‍රභාකර් සහ බැප්ටිස් ප්‍රභාකර් මෙන මේ පෙම් ජවනිකාව මීලඟට සිනමාශාලාවල තිරගතවන 'දූජපනාගේ හිතවතා' චිත්‍රපටියෙනි. මෙහි අධ්‍යක්ෂක එස්. වී. චන්ද්‍රන්ය.

# විවාහ යෝජනා ගලා එයි

හින්දි තිරයේ දුෂ්ඨ මෙන්ම ප්‍රධාන චරිත රඟපෑමින් දවසින් දෙකින් ජනප්‍රියත්වයේ මුදුන් පෙත්තටම නැගුණ සත්‍රුඝන් සිංහ සිංගප්පූරුවෙන් - ෆිජි දූපත් වලින් - බටහිර ඉන්දියානු දූපත් වලින් - නයිරෝබිය කෙන්යා - දකුණු ඉන්දියාව - දිල්ලිය ඇතුලු සෑම තැනකින්ම තරුණියන්ගෙන් විවාහ යෝජනා ගලා එන්නට පටන්ගෙන තිබේ නමුත් සත්‍රුඝන් සිංහ කෝපවී සිටින එක් කරුණක් තිබේ

එනම් ඔහු උපන් ප්‍රදේශය වූ බිහාරයෙන් එකම එක තරුණියක්වත් විවාහ යෝජනාවක් තබා ආදර හසුනක්වත් ලැබී නො තිබීමය



මාලිනී ෆොන්සේකා මොරිස් දහනායක සහ ගැහැණු වේෂයෙන් ටෝනි රණසිංහ පෙනී සිටින මේ ජවනිකාව සිනමාස් සමාගම වෙනුවෙන් ජී. ත්‍යාගරාජ් විසින් නිපදවන 'ඔන්න මාමේ කෙල්ල පැනපි' චිත්‍රපටියෙනි

# ජෝහාර් නැවත වරක්

හින්දි තිරයේ ජනප්‍රිය විකට නලුවෙකු වූ අයි. ඇස්. ජෝහාර් නැවත වරක් රුපියල් පන් දහසක් බිහාර් සිසුන්ගේ අරමුදලට පරිත්‍යාග කර තිබේ.

ද්‍රවිඩ තිරයේ ඇම් ජී. රාමචන්ද්‍රන් මෙන්ම හින්දි තිරයේ මෙවැනි පරිත්‍යාග වැඩි වශයෙන් කරණ නළුවා අයි. ඇස්. ජෝහාර්ය.




# අත්පා වලට ද තිබුනත් යදන් බැමි
# ඉරණම අනුව යුදු මම ඔබ ළඟට එමි

නාරන්පතාවේ ආර්. මගෙන්
නලිට

හිත ගිය තැනකට ආදරේ
  පිදුවොත් එය වරදක් වේදෝ
එසිත් පරාදව පසුබා
  වුවොත් එය කැලලක් වේදෝ
වරද වරද ලෙස පිළිගත්තෙමි
  ඔබ දෙනෙතින් කැලු පෙරා
ලෙව මට සැනසෙයි ඔබ අසුව
  ඇයි නිසබව හතට මෙහෙරා
මගෙ ජීවිතයම දවනා
ගත්තා බැරි ලොකු සිහිනයකී

මෙලෙ වද හමුනොවුනත් මතු ජාත්මාසකදී හෝ අප හමුවෙමු එතෙක් සැරා වසන්තුරු තාලී ඔයාට වාසනා.

●

ගොඩකාවෙල කුමාරිගෙන්
ආදර සරා චම්පාට

ජීවිතය රෝස මල් යහනාවක් යයි සිතුවෙමි. ආදරය සමග අත්වැල් බැඳි ඒ සුන්දර අතීතය තුලින් මම ලැබූ එකම සැනසීම ඔබ සමග ගත කල සුන්දර කාලය යි. වැල්ලේ ඇඳී ඇකී ගත රේඛා මෙන් ඒ අතීතය මා කෙරේ ඈත් වී ගියේ මගේ හදවතට තොම්සෙන වේදනාවක් ලගාකර දීල ආදර - ඔයාට මවක ඇති ඒ අතීතය. ඔයා නැත් තොර ජීවිතයක් කිසිදිනක නොපැතුවෙමි.

අතීතයේ එක් සොඳුරු තම උදෑසනක මගේ ආදරය ඔබට කරදරයක්දැයි ඇසූවට නැයි පැවසූ ඔබ ආදරය රැගෙන තෙරක් නොපෙනෙන පෙම් සයුරේ දමා ගිහිං අතරමංකොට නිහඬ වී මගේ ලිපි කට පිළිතුරක්වත් නොලිය තරම් නොකාරුණික වූයේ නැයි සදාකල් හිමි ඔබගේ ඔය අහිංසක මුහුණ මතකදී ඇති ගොදොහැර සිනාරැල්ල අමතක නොවේ මගේ වේදනා ඔබට සතුටක් නම් ඔබේ පැතුම් ඉටුවේවා!

●

ආදර මිජ්ගෙන්
කලුඹ විල නාලිට

හිරු රැස්වට යන ගොම්මන් අවදියක සයුරු තෙරට වී සිටින මගේ චිත්තයට මැවී පෙනනුයේ මාස කීපයක ඉහත ඔබෙත් මගෙත් ජීවිත කතාවයි මෙවන නිසල සවසට වක ඒ සැඳ ගියාව මනකයට නැගෙනුයේ ගොම්මන් ඇඳිය කඳුලින මකාලමිනි

ඒ අතීතයේ කොමැකෙන නගරයකි නුගගොඩ. සොඳුරු කතාවක උදෙසාත් ඉන් ඔබ්බට ඇති නැවල පර දිගේ ගමන් ගත්ත එලෙසය මට පවිම මතකයි ඒ වගේම ඔබේත් මතක ඇතැයි මට සිතෙන්. අප දෙදෙනා එකට අත්වැල් අල්ලා ගෙන තුහුරුවත් ම ලියය කොරු විසින් නො දමම දැනකදී එය මං නොදැනුවත්වම වූ දෙයක්.

දරාගත නොහැකි වේදනාවක් අපෙ දෙවන් තුලට කාවැදුණ ඉන් වෙන්වූ අප දෙදෙනා තවමත් ලතාවේ නැවත සොයාගෙන මොය හතමුත්සද සීගල මගේ නලී නැවත මා සමග අඳුරට වැටුණෙන් නැවත අපි එය තනවමු. එය මූලාවී නොවේ සවු රත් දැනුවතව නැතනම් ඉර්ණමකට මුහුණදෙන්න වෙනව ඒ නිසා ඔබේ ආදරය සමැති පහත් සිඳවෙත් තිවිගිරාවූ මගේ පහණත් ආලෝකමත් කරගෙන ඔයාත් මමත් නැවත මේ අඳුරෙන් එලියට යමු ඒ සමගම සඳළු

නොමඟ ගිය මුවක් මම නොදත් නිසයි මගේ ලියුමකට ලිපියක්වත් පිලිතුරක් බලාපොරොත්තු නෙවී සේලයෙන් අස්වී ගියේ. මේව නොතවත් ඔයා දන්නෙ නෑ.

වැඩියත් ඒ නිසයි ඔබ වෙනුවෙන් දෙවන වේදනාවෙන් වැලපෙන්නේ. වැඩ හිතකින් ඇසුරු කල වපල කෙල්ලක යයි කියවක් නොදන්න ඔබ මං ගැන සිතුව එය හැබෑය එත් - - එදා මෙන් අදත් සසර වසන්තුරු අවසාන දෙවතින් මම පතන්නේ ඔයාගෙයි සුතිත්.

පිසදාගත් ඔබ මෙලොව එපිය බලනව්ව හිරු සේවය නිමාව දකගන

●

දෙඩම්පෙ වත්තේ අනුලාගෙන්
ආදර සුදුට

මොඩක් දවසකින් ඔයාගේ දූපට ගසුනෙවුන මේ පුංචි අකුරු කැමෙද කීයල මම දන්නෑ විතේ: ඔබ් පුදු ඔයාට ලිපියක් එවනන ප්‍රමාද වූයේ වැඩ ගොඩක මම පැටලී සිටි නිසයි මට ඔබව හැම මොහොතකම මතක්වෙනව. ඒ සුන්දර සිහින අපටිත් කොහේ දෝ මුතුම ලොවකට මම ඇදිල යනව ඒ සිහින ලෝකයේ කුමරා ඔබයි පුංගය එදා වගෙම අදත් මගේ පරෙවි කුරුල්ලට මම ආදරයි ඔබ් පුදු මගෙ ජීවිත එංසමයි, ඒ ආදරයේ සීසිම වෙනසක් නෑ. අදත් සමුගන්නට අවසර. ඔයාට රත්තරන් අනාගතයට ආසිරි පැතුම්!

●

වාද්දුවේ සුජීත්ට
කුරුණෑගල කුසුම්ගෙන්

74 පෙබරවාරි 15 දට පස්සෙ පුරා දෙමසක් ලිපි කීපයක්ම දාලා ඔබෙන් පිලිතුරක් බලාපොරොත්තු වුනත් අප්‍රේල් 11 දා දක්ව එය ඉටුවුනේ නෑ. ඒත් එදින මට ලැබුණු ලිපිය කියැවූ සත් මං නොසිතූ දෙයක් උනා. එහි කියල තිබූ ඔබේ ලිපි සියල්ලම

ඔබ ඉන්න තැනක් දනගන්ට කෙතෙක් උත්සාහ කලත් ඒ සියල්ලම නිෂ්පලවූ බවත් ඔබ දන්නේ නැත්ද? හැමදාමත් ඔබ වෙනුවෙන් පීඩා විඳින මගේ හදවතට යන්තමින් හෝ සැනසීමක් ලබන්නට තරම් ඔබ අකාරුණික වෙයයි මට කොහෙත්ම සිතන්න බැ

දුකින් ඔබේ අහි සක සැඟම්, අසහනයෙන් පීඩා විඳින කුසුම් ගැන සලකා හැකි ඉක්මනින් ඉන්න තැනක් දන්වන්න

●

අම්පාරේ එස් සමරකෝන්ගෙන්
අනුරාධපුර නමරා කුමාරිට

අත පා වලට ද තිබුණත්
  යදම් බැමි
ඉරණම අනුව සුදු මම
  ඔබ ලගට එමි

●

මීගමුවේ එමිල්ගෙන්,
රත්මලානේ ප්‍රියානිට

'ඔයා ලැබීමෙන් ලබන සතුටට වඩා, ඔබ නොලැබීමෙන් ලබන ආදර වේදනාව මිහිරියයි මම සඳ සැනසෙන්නෙමි.

කාලාන්තරයක සිට මොහමඩ් සාලි යන නාමය සිංහල සංගීතය සහ සිංහල චිත්‍රපට සංගීතය සමග බැඳී පැවති. එදා මෙදා අතරතුර කාලයේදී ඔහු අතින් තනු සහ සංගීතය නිර්මාණය වූ ගීත සංඛ්‍යාව අති විශාලය. මේ නිහතමානී නිහඬ කලාකරුවා ගැන මෙවැනි ලිපියක් කලාවේ පිටුවක් අතර සටහන් වන්නේ ඔහු සමග මා කරනු ලැබූ සුහද සාකච්ඡාවක ප්‍රතිඵලයක් හැටියි.

ප්‍ර: ඔබ සංගීත ලෝකයට පැමිණියේ කුමන අවදියේද?

පි: 194? දී සංගීත ලෝකයට මා පා තැබුවේ හාර්මෝනියම් වාදකයකු සහ ගායකයකු ලෙසයි. ඉන්පසු ගුවන් විදුලියේ මුස්ලිම් අංශයේ පැවැත්වුණු ගීත ගායනා තරග දෙකකින් අසමත්වූ මම 1956 දී පැවැත්වුණු ගීත ගායනා තරගයෙන් ඒ ශ්‍රේණියේ ගායකයකු වශයෙන් මං සමත් වුනා. ඉන්පසු සංගීතය ඉගෙනීමට තිබූ බලවත් ආශාව නිසා මා එවකට රජයේ කලායතනයේ අධිපතිව සිටි ලයනල් එදිරිසිංහ මහතා හමුවී මගේ කැමැත්ත පලකළා. එයට පිළිතුරු වශයෙන් ඒ මහතා මගෙන් ජ්‍යෙෂ්ඨ පාඨශාලා සහතිකය ඉල්ලා සිටියා. නමුත් මට එය තිබුණේ නැ. ඉන්පසු 1961 මුස්ලිම් කලාකරුවන්ගේ දියුණුව සඳහා අපි පිරිසක් එකතුවී එකල තිබුණු රජයෙන් අපි සංගීත පාසලක් ලබාගත්තා. එය අපේ බලවත් උත්සාහයක ප්‍රතිඵලයක්. එහිදී ගාන්ධර්ව දක්වා මම සංගීතය හැදෑරුවා. ඉන්පසු අවාසනාවට මෙන් මෙම සංගීත පාසල වැසී මට සිදුවුණා. එයට හේතුව එම සංගීත පාසලේ ඉගනගත අයගේ සහයෝගය මෙයට නොලැබූ නිසයි. ඉන්පසු සංගීත සංදර්ශනවලට යැමට පටන් ගත් මා ඉන් අනතුරුව නැසීගිය බී. ඒ. ඩබ්. ජයමාන්න මහතාගේ වතලිංග චිත්‍රපටියේ හාර්මෝනියම් වාදකයකු වශයෙන් එම චිත්‍රපටයේ සංගීතය සැපයූ ආර්. ඒ. චන්ද්‍රසේන මහතා යටතේ චිත්‍රපට ලෝකයට පිවිසියා. ඉන්පසු එකල ජනප්‍රිය ගී තැටි සමාගමක් වන කාර්ගිල්ස් සමාගමේ ගී තැටිවලට මං සංගීතය සැපයුව එකල එම සමාගමේ පාලක දූරා ගේබ්‍රියල් මහතා මෙයට සහයෝගය දුන්නා. මුලින්ම එම සමාගම වෙනුවෙන් මං තනු නිර්මාණය කර සංගීතය සැපයුවේ ගායකයකු මෙන්ම දැනට ජනප්‍රිය විකට නලුවකු වන ක්‍රිස්ටි ලෙනාඩ් පෙරේරාගේ ගීත වලටයි.

කාලය ගෙවී යද්දී නැසීගිය බී. ඒ. ඩබ්. ජයමාන්න මහතා විසින්ම නිෂ්පාදනය කළ මල් යහනාව සහ ශීතල නදිය යන නාට්‍යයන් සඳහා සංගීතය සැපයීමට මට අවස්ථාව ලැබුණා. එම නාට්‍යයන් ලංකාවේ සෑම ප්‍රදේශයකම වගේ ප්‍රදර්ශනය කළා. මේ කාලයේදී සිලෝන් තියටර්ස් සමාගම වෙනුවෙන් බී. ඒ. ඩබ්. ජයමාන්න මහතා අධ්‍යක්ෂණය කළ මංගලිකා චිත්‍රපටියේ සංගීත අධ්‍යක්ෂණය මට ලබාදීමට බී. ඒ. ඩබ්. ජයමාන්න මහතා වෙනුවෙන් ලොකු උත්සාහයක් දැරුව. මංගලිකා සංගීත අධ්‍යක්ෂණයට පිවිසි එම අවදියේදී මම එතෙක් ඇද දැමීමට එකල ලංකාවේ සිටි සංගීත අධ්‍යක්ෂවරුන් කීප දෙනකු මට විරුද්ධව සිලෝන් තියටර්ස් සමාගමට පෙත්සම් දමා යැව්ව. කෙසේ වෙතත් බී. ඒ. ඩබ්ලිව්. ගෙනගිය උත්සාහය නිසා මංගලිකා චිත්‍රපටියේ සංගීත අධ්‍යක්ෂණය මට පැවරුනා. ඒ මහතාට මම අදත් ගරු කරනව.



# අවහිර බාධක මැද

# සංගීත අධ්‍යක්ෂවරයෙකු වූ

# මොහොමඩ් සාලි

ප්‍ර: ඔබ තනු සහ සංගීතය සපයා ඇති ගීත අතරින් ඔබ වඩා කැමති ගීත මොනවද?

පි; මං දැනට ලංකාවේ සිටින සෑම ජනප්‍රිය ගායක ගායිකාවකට වගේ ගී තනු නිර්මාණය කර තියනව. සංගීතය සපයා තියනව. ඒ අතරින් මුල් කාලයේදී මං නිර්මාණය කරමින් සංගීතය සැපයූ ජේ. ඒ. මිල්ටන් පෙරේරා ගායනා කළ 'සඳන් ගසක උතී සමන් ලතාවක මල් පරවී යනවා--' යන ගීතයටත් එච්. ආර්. ජෝතිපාල ගායනා කරණ ලද 'මුලදී බැඳද ආදරයක මිහිර දුන්--' යන ගීතයටත් මං කැමතියි. මේ වෙලාවේ මට තවත් දැනෙන සිද්ධියක් මතක් වෙනව. එනම් ඒ අවදියේ ගීත ගායනය සඳහා ඉන්දියාවට ගොස් සිටි අද ලංකාවේ ජනප්‍රියම ගායකයෙක් වන එච්. ආර්. ජෝතිපාල ඉන්දියාවේ සිට මට ලිපියක් එවමින් එකල ලංකාවේ ජනප්‍රිය ගායිකාව වූ රුක්මණී දේවී (ඩේසි අක්කා) සමග ගීයක් ගායනා කිරීමට වෙසෙසේ මා අවස්ථාව ලබා දෙන මෙන් මගෙන් ඉල්ලා තිබීය. ඔහු ලංකාවට පැමිණි විගසම ඔහුගේ එම ආශාව මං ඉටුකළා, එම ගීතය තමයි කරුණාරත්න අබේසේකර රචනා කළ 'දෙත්ත ප්‍රියේ දූනට මිශ දුන--' යන ගීතයයි. මෑතකදී මං තනු නිර්මාණය කරමින් සංගීතය සැපයූ ගීත අතරින් ජේ. ඒ. මිල්ටන් පෙරේරා ගායනා කළ 'වීසකී උකීරි මගේ පුතා' යන ගීතයටත් රූපා ඉන්ද්‍රමනී ගායනා කළ 'එක ගඟක ඉවුරු දෙක කවද කොතැන මුණ ගැසේදෝ' යන ගීතයට මෙන්ම මිල්ටන් මල්ලවාරච්චි ප්‍රථමයෙන්ම තැටිගත කළ ගීත අතරෙන් 'ඔරුවක පාවෙන රෑ ගත අඳුරේ--' යන ගීතයටත් මං කැමතියි.

ප්‍ර. මේ යටත් අමතරව ජනප්‍රිය වීමට අපෑදත් තවත් ගායක ගායිකාවන් සිටිනවද?

පි: ඔව් හුඟක් අය සිටිනව. ඒ අතරින් ලංකාවේ අද ජනප්‍රිය ගායිකාවක් වන ෆාසූ මාලිනී පෝකුල 1960 දී ගුවන් විදුලියේ මුස්ලිම් අංශයේ පැවැත්වූ එයාර් ශිප් ගීත ගායනා තරගයෙන් ප්‍රථම ස්ථානය ඇයට ලබාදීම සඳහා මම බලවත් උත්සාහයක් ගත්ත. ඒ වගේම ඇයද එම තරගයෙන් ප්‍රථම ස්ථානයට පත්ව ඉන්දියාවට යෑමේ භාග්‍යය ලැබුව,

ප්‍ර; දැනට චිත්‍රපට කීයකට සංගීතය සපයා තිබෙනවද?

පි: දැනට මම චිත්‍රපට 16කට පමණ සංගීතය සපයා තියනව. ඒ අතරින් මෑතකදී ප්‍රදර්ශනය වූ හඬවත් නැතතෝ චිත්‍රපටයට වාද්‍ය සහ ගායක විශාරදයකු මෙන්ම අපේ තවත් සංගීත අධ්‍යක්ෂවරයකු වන මෙල්ටන් පෙරේරා සමග මම සංගීතය සැපයුවා. මීට අමතරව ළඟදී ප්‍රදර්ශනය වීමට නියමිත 'මෙහෙම හදිද' චිත්‍රපටිය සමග තවත් චිත්‍රපට හතරකට ඒ සමම ඉන්දියාව සහ ලංකාව එවුල් කරණ මෙවවණී දෙමළ චිත්‍රපටිය කටද මං සංගීතය සපයනව.

ප්‍ර: දැනට පවත්නාවූ සංගීතය ගැන ඔබේ අදහස කුමක්ද?

පි: අපේ ගීත ලෝලීන් තවමත් බලවත් කැමැත්තක් දක්වන්නේ හින්දි ගීත අනුග්‍රහයෙන් කොපි කළ ගීතවලටයි. ඒ ගැන මම කණගාටු වෙනවා.

(14 වැනි පිට බලන්න)

උපාලි ඩී. කුරුප්පු ලියයි

# මුළු ලෝකෙම
# ඇදිරහිතමට
# වඩා හොඳි
# කාලෙ මම
# හොඳයි - ජෝ

මං උපන්නෙ තිම්බිල, තීසල, සුන්දරත්වය වඩා ගත් සිංහල සිරිත්, විරිත් දෙතින් ගත් අකුරෑල, අව්‍යාජ ගැමියන් ජීවත් වූ හද්ද පිටිසර ගමකයි. මගේ ගම වගේම, එහි ජීවත්වූ ගැමි යනුත් අහිංසකයි. මා රඟපෑ චිත්‍රපටවල සමහර චරිත රඟපෑමේදී, මේ අහිංසක ගැමියන්ගෙන් පොඩි කාලෙ මා හොරාගත් ගති ගුණ මට ප්‍රයෝජනවත් වුණායයි

දුව වත්ත පිටිය, නෙවිල් දර වල් පිරිසිදු කරල අපි අවුරුදු කුමාරය පිළිගන්න සැදී පැහැදී ඉන්නව.

ඒ කාලෙ මට අමතක නොවෙන් වැඩක් වුණා. අවුරුද්ද කිට්ටු වෙනකොට, කොච්චර නැති බැරි ගෙදරක වුනත් දූලි වළඳක් උළෙ නොතිබ ඉන්නෙ නෑ. දහඅත මිණය වෙලා හරි ළමා ලපටින්ට

තවත් ම කජු සහ කෝලෙප්පම ක් මට මතකයි ගම කිට්ටුව අලියෙකුට පිස්සු හැදිලයි මෙ පුරා කතාව තිබුණ. දවල්ටත් ගමේ මිනිස්සු පාරක, තොටක බැහැල ගියේ පරණ බයෙන් රූව නම් පාරක මිනිහෙක් හොයා ගන්න බෑ, ඕනම වෙල් ඇතුලට වීංගල, හොඳ ට කලුවර පාත්වුණ ගින් පස්සෙ මං ගෙප්ජී ව ලකුත් අරං ගම පුරා

කොල්ලන්ට තරම් වෙන සැටත් බලපාන්නෙ නෑ. ඒක නිසා බැද්දෙ සෙල්ලම් කරමින් සිටින අපි තෙමිච්ච කුකුලන් වගේ වගේ නෙවල් පිලිකඳු වලට ගිහින් හැංගෙනව හැංගෙන්න බැරිව ලොකු මහත්තයට මුලිච්චිවුනොත් එවෙලේම පාත්තුවල වදිනව හැකැයි මේ ලොකු මහත්තයා දුණ ගැසීම බලපාන්නෙ පාඩුවට ඉස්කෝලෙ පැමිණෙද්දියි. අපට පාර මි නැතිවෙච්ච හැටියෙ ලොකු මහත්තයා වරද්දන්නෙ නැතිව පාර

පාසලට ඇවිල්ල රඟපෑව රඟපෑ, මේ මුල් බීජය හටගත්තෙ මෙතනින්ලයි මට හිතෙනව. පාසලේ මෙහෙම රඟපෑල මං මාස්ටර්ලගෙන් හොඳට ගුටි කෑව. එක මාස්ටර් කෙනෙක් දවසක් මට මෙහෙම කිව්ව 'යකෝ බයස්කෝප්වල රඟපාන්න බෑ ඉගෙනගත්තෙ නැතිව. ජ ලූමවා කිඅත්තෙ ඉගෙනගත්තු මිනිස්සු කොටසකට. ඒක නිසා ඉස්සෙල්ල ඉගෙනගනිං'

# මිතුරු හමුව



පී. ඩී. හේමචන්ද්‍ර — ව: 22
293, නාරංගහහේන පාර,
කටුවාන,
හෝමාගම.

ප්‍රේමා ශිරානගේ — ව: 19
මිරිස්සදකුණ.

ප්‍රේමදාස අමරසිංහ — ව: 24
245 5 දඩහේන පාර,
මහරගම

කේ. ජයන්තා පද්මිණි — ව: 14
සිංහල වත්ත,
විශාඛා පාර,
ගම්පහ.

එච්. කේ. චන්ද්‍රදාස — ව: 14
248 5, ආදුරුප්පු වීදිය,
කොළඹ - 13.

ඩබ්ලිව් බී හේමලතා — ව: 14
එන්. ජී. පී. ස්ටෝස්,
මාලිඹොඩ

ආනන්ද කරුණානායක — ව: 22
9 5, ශ්‍රී සුමඹ පාර,
ගාල්ල.

අයි. එච්. මාග්‍රට් එල්ලාවල — ව: 22
ලියන්ගහවත්ත,
එල්ලාවල.

ඒ. එල්. එම්. මහරූප් — ව: 22
118, මත්සාරම් පාර,
පුත්තලම

මාලි අබේකෝන් — ව: 14
ගොරොක්කතත්ත,
කඹුරුපිටිය

ආර්. අමරදාස — ව: 20
69 2 සල්වර් ක්‍රවුන්,
වෙල්ල වීදිය,
කොළඹ 12

ප්‍රේමා පතිරණගේ — ව: 16
කනවල,
පාදුක්ක.

ලලිතා මහෙල් ගුණතුංග — ව: 19
43 ඩී. බැදිවැව
පොළොත්තරුව
පයත්තිදූර

වයි බී එන් රසීඩ් කාන් — ව: 18
3 අලව්ව හන්දිය,
පොල්ගහවෙල

ශාන්ති කමලානි පෙරේරා — ව: 24
39/6 සංඝමිත්තා මාවත,
කොළඹ 13

වීරසිංහ ඒකනායක — ව: 24
අලෙවි සංවර්ධන දෙපාර්තමේන්තුව
කොළඹ 1

ආ. එම්. ජයන්ත රත්නායක — ව: 20
31/21, ග්‍රැන්ඩ්පාස්,
කොළඹ-14.

ඒ. ගාමිණී කරුණාරත්න — ව: 18
යූ 23/4, ජාතික නිවාස,
මහවත්ත,
නාරාහේන්පිට.

ආර්. ඒ ජෝශප් — ව: 19
ජේ. 23 3/1, ජාතික නිවාස,
මහවත්ත,
නාරාහේන්පිට,
කොළඹ-5.

ඩී. එම්. දිසානායක — ව: 19
ජේ. 23 ½ ජාතික නිවාස,
මහවත්ත,
නාරාහේන්පිට.

ජේ. ඒ. සුනිල් හැරිසන් — ව: 25
51 කනුව, පුත්තලම පාර,
හලාවත.

මල්ලිකා කහඳවල — ව: 21
'ශාන්ති'
යටවතුර-මලලෙ,
පාදුක්ක

එස්. ඇම් කරුණාරත්න — ව: 24
සූරිය සෙවන,
උස්වැව,
නාකෙල්ලගොඩ.

කේ ඉන්ද්‍රානි — ව: 14
56, මිරිස්වත්ත,
මහවල, පානදුර.

ජයන්ත දෙනිකුඹුර — ව: 14
ගිහලකෙටුව උඩුමිය,
කුරුණෑගල.

නාලිනී ජයවීර — ව: 19
237/10, කඩිංවත්ත,
මාතර.

ඩබ්. බී. සෝමසිරි — ව: 18
49, විංජේරාම ලේන්,
ගංගොඩවිල,
නුගේගොඩ.

නිල්මිණි අනෝමා පෙරේරා — ව: 20
49, ඒ වක්කීනද්‍රාරාම පාර,
රත්මලාන

ෂෙල්මන් රාජපක්ෂ — ව: 20
මාකෙවිට
ජා - ඇල.

කුමාරි වීරසූරිය — ව: 24
140, රාජගිරිය පාර,
රාජගිරිය.

නිව්ටන් හේවගේ — ව: 26
ල. සි. සං. මංඩලය,
තැ: පෙ: 1-පුත්තලම

කේ. ඒ ධම්මිකා මල්කාන්ති — ව: 20
189 44, පමුණුව, පාර,
මහරගම.

දයාපාල එම් වැව්වගේ — ව: 20
මාතර පාර,
කඹුරුපිටිය

නන්ද ඒ විලගම්මුල්ල — ව: 20
විලගම්මුල්ල,
පොතුහැර

වින්සන් ජයන්ත — ව: 27
කොහු කම්හල,
ලොලුවාගොඩ.

මොහමඩ් එම් මන්සූර් — ව: 22
චීනස් රයිස් මිල්,
15, රඹුක්කන පාර,
මාවතගම

සීතා කුමාරි සතරසිංහ — ව: 14
'පිය සෙවන'
හොරේපොල,
ගොඩකවෙල.

ඊ. එම්. වීරසේකර — ව: 26
තැපැල් කාර්යාලය,
කෑගල්ල

ජී ජී ගාමිණී බංඩාර — ව: 21
රත්දිවල,
මාවතැල්ල.

"කලා" මිතුරු හමුව

නම : ____________________

ලිපිනය : ____________________

____________________

වයස : ________

# ළමා චිත්‍රපට භාරජයේ යුතුකම

ළමා චිත්‍රපට හිඟවීම ගැන අපේ අය නිෂ්පාදක අධ්‍යක්ෂකවරු බැඳගෙන කෑගැසීම කළාට මම එසේ නොකෙමි

මන්ද ළමා පරපුර වෙනුවෙන් යුතුකම ඉටුකළ යුත්තේ රජය නිසා. මම නම් රජයට මිස අන් අයෙකුට දොස් නොකියමි. ළමයින් උදෙසා ආදර්ශවත් හොඳ ළමා චිත්‍රපට තැනීම රට කරවන පාලක පක්ෂයේ යුතුකමයි.

මෙම යුතුකම ඉටුකිරීමට රාජ්‍ය චිත්‍රපට සංස්ථාවවත් පෙරට පැමිණියොත් ළමා පරපුරේ අනාගතය හොඳයි

- ජෝජ් රොබිසන් ද සිල්වා




## මෙය නවත්වන්න බැරිද?

අප සිනමාහලකට යන්නේ සියලු කරදර මොහොතකට අමතක කර විනෝදයක් ලැබීමටයි. එහි දීත් අනවශ්‍ය කරදරයන් අපේ කරට වැටෙනවා නම් එය කොතරම් අවාසනාවකද? මේ කරදරය වැඩි වශයෙන් ඇති කරණුයේ බොරු ගණන්කාරයින් සහ බේබද්දන් බව අමුතු රහසක් නොවේ. ප්‍රවේශපත් ලබාගන්න පෝලිමේදීත්, සිනමාශාලාව තුළ දීත් මොවුන් කරණ අවනීත අකටයුතුකම් නිසා විවාහක කාන්තාවක් සමග හෝ සිනමා බැලීමට යෑම දැන් ඉතා භයානක ගමනක් වී ඇත. මේ කරදරවල අවසානයේ සමහරවිට ජීවිත පවා හානි වීමට ඉඩ ඇති බැවින් සිනමාහල් පාලකවරු දැනවත් විධිමත් අවදියකින් සිටීම යෙහෙකැයි මතක් කරණු කැමැත්තෙමි

—සුනිල් චන්ද්‍රසේකර

## චිත්‍රපට ප්‍රදර්ශනය

අපේ රටේ චිත්‍රපට ප්‍රදර්ශනය ඉතාමත්ම දුර්වල තත්වයක පවත්නා බැව් නොකියාම බරිය. ඊට හේතුව අපේ සෑම චිත්‍රපටියකම ප්‍රධාන වශයෙන් පලමුවෙන් ප්‍රදර්ශනය කරණුයේ කොළඹ වැනි ප්‍රධාන නගරවලය. සාමාන්‍ය වශයෙන් කොළඹින් ඈත් ප්‍රදේශවලත්, ගම්බද ප්‍රදේශවලත් මුලින්ම ප්‍රදර්ශනය කිරීමක් නොකෙරේ. එය ඉතා අසාධාරණ ක්‍රියාවක්යයි සිතගැනීය චිත්‍රපටිය මුලින්ම නැරඹීමට හැකි ප්‍රධාන නගරවල වෙසෙන උදවියට පමණද?

මෙයට චිත්‍රපට බෙදාහරින්නන්ගේත් සිනමාශාලා හිමියන්ගේත් සහ චිත්‍රපට සංස්ථාවේත් අවධානය යොමුකරණු ඇතැයි බලාපොරොත්තු වෙමු

## සිනමාව කලා මාධ්‍යයක්ද?

සිනමාව යන්න ලොව පිලිගත් උසස් කලා මාධ්‍යයක් මෙන් ලොවේ දියුණු කර්මාන්තයකි. මේ නිසා නිෂ්පාදකයින්ට වාණිජ අංශය ගැන සිත යොමු කිරීමට සිදුවේ. සිංහල සිනමාව බිහිවූ කාලයේදී වැඩි හරියක් චිත්‍රපටි නිෂ්පාදනයට යොමු වූයේ එය වාණිජ අතින් සාර්ථකව මුදල් උපයන ක්‍රමයක් වූ හෙයිනි. එය උසස් කලා මාධ්‍යයක් කියා තේරුම් ගත් අය මුල් කාලයේ සිටියේ නම් ඉතා ටික දෙනෙකි. අද වුවත් ධනවාද සමාජයේ වාණිජ පරමාර්ථයෙන් චිත්‍රපට නිෂ්පාදනයට යොමුවන අය ඉන්නවා. ඒ අයගේ පරමාර්ථය ඉටුකර ගැනීමට නම් වඩාත් ප්‍රේක්ෂක ජනතාවට තම චිත්‍රපටිය සමීප විය යුතුයි. ඒ වගේම චිත්‍රපටියේ ප්‍රධාන පරමාර්ථය විය යුත්තේද ප්‍රේක්ෂකයාට විනෝදාස්වාදයක් ලබාදීමයි.

මේ නිසා ජනයාගේ රුචිකත්වයට සරිලන සංගීතයක් සහිත කල යුතුය. චිත්‍රපටයක් හදන්නේ කීප දෙනෙකුට බලන්න නොවේයි. එය බහුතර ජනතාවට හදන චිත්‍රපටියක් නිසා ඒ අය ප්‍රිය කරණ සංගීතයක් ඊට යෙදිය යුතුයි. මේ අයුරින් බලනවිට සිනමාව උසස් කලා මාධ්‍යයක් වශයෙන් හැඳින්විය හැක.

- ලයනල් සිල්වා

## සංගීත ප්‍රසංග සහ රුචිකත්වය

දිවයිනේ ජනප්‍රිය ගායක ගායිකාවන් කීපදෙනෙක්ම එක පුද්ගල ගීත ප්‍රසංග කීපයක්ම පවත්වා ඇත. අමරදේවයන් සහ නන්දා මාලිනී හාපාරා කියා සංගීත ප්‍රසංගයක් ආරම්භ කළහ. එය කොතරම් දුරට මේ රටේ ප්‍රචලිත වීද යත් ඇතැම් ගීත ප්‍රසංගවලට නැරඹීමට ප්‍රවේශපත නොමැතිව බොහෝදෙනා ලතැවීමෙන් පැහැදිලි වේ. උසස් රුචිකත්වයක් අසන්නන් තුල ජනිත කිරීමේ හැකි බලයක් එක පුද්ගල සංගීත ප්‍රසංගවලට ඇත.

අසන්නා තුළ උසස් රුචිකත්වයක් ඇති කිරීමේ ප්‍රධාන යුතුකමක් ගුවන් විදුලියට ඇත. එත් ඒ යුතුකම ගුවන් විදුලිය හරිහැටි ඉටුකර ඇද්දැයි සැකසහිතය. ගුවන් විදුලියෙන් කළ යුතු 'රුචිකත්වය' සැලසීම පෞද්ගලික වශයෙන් ගායකයින් එකමුතුවී කිරීම ගැන එකී ගායකයන්ට කෘතඥ විය යුතුය

අමරදේව සහ නන්දා මාලිනීගේ 'ශ්‍රාවක ආරාධනා' වික්ටර් රත්නායකගේ 'ස ප්‍රසංගය' සනත් නන්දසිරිගේ "ස්වර්ණ කුණ්ඩල" සහ දයාරත්න රණතුංග සහ අමරා රණතුංග ඉදිරිපත් කළ 'සාරංගා' ගීත ප්‍රසංගය මෙතෙක් ජනතාව ඉදිරියට ආ ගීත ප්‍රසංගයෝය. අතිල් ශාන්ත, අයිවර් ඩෙනිස්, සුනිල් ප්‍රේමරත්න, ලතා වල්පොල සහ අයත් මෙවැනි ගීත ප්‍රසංග ආරම්භ කළොත් එය මේ රටේ ගීත ලෝලී අසන්නන්ගේ වාසනාවකි. උසස් රුචිකත්වයට මග පෙන්වාදීමකි

- ප්‍රැන්සිස් රණසිංහ

## ඉනෝකා වීරසිංහ



දැනට සිනමාහල් ගණනාවක ප්‍රදර්ශනය වන බූදම ශ්‍රී කලේන්ද්‍රගේ 'කල්‍යාණි ගංගා' චිත්‍රපටියේ ගංගාගේ චරිතය නිරූපණය කරණ සිඟිති නිළිය ගැන චිත්‍රපටිය නැරඹූ සෑම දෙනාම ඉතාමත් ප්‍රශංසනීය අයුරින් කතා කරති.

ඈ — ඉනෝකා වීරසිංහ. හය හැවිරිදි ඉනෝකා දැනට කොටාහේනේ හපත් එංඩ්රාගේ කන්‍යාරාමයේ 1 වැනි ශ්‍රේණියේ ඉගෙනුම ලබයි. ඇය ස්ටැන්ලි වීරසිංහගේ බාලම දියණියයි. ඇයට අයියලා දෙදෙනෙකු සිටී. ඒ ඉඳුනිල් සහ සවංකය. ඔවුන්ද රඟපෑමට උපන් පෙතතුය.

ඉනෝකාගේ ආසාව කවදා හෝ දක්ෂ ජනප්‍රිය නිළියක වීමය. ඒ ප්‍රාර්ථනාව එසේම වේවායි අපි පතමු




# ආදරය වැස්ස සහ මම

කේ. ඩී. සරත් ප්‍රේම් ලියයි

ශහර් ගාලා වහිනව. හොර හෝංඩියක් නැතිව වහිනව: හතරැස් කාමරය වට වුන කාණු දිගේ දිය පාර පිපිල ඊයේ රාත්‍රියේ කඩාගෙන වැටුණ ජෙප්පලිකා මල් ගහේ අතුරිකිලි ඒ මත හෝංගෙන යනව ජනෙල් කවුළුවෙ වීදුරුව අතරින් අපැහැදිලිව මට පෙනෙනව. වෙනදට මම දකින සොබා දහමේ ඒ අපූරු නිර්මාණය කාලයක් සඟවගෙන තිබිලා මියගොසින්. අද මම දකින්නෙ හෝංගෙන යන එහි නටබුන් පමණයි. එයත් හරියට මගේ ජීවිත චක්‍රයට අවුරුදු තුනහමාරක් පෙර තිබුණු ජීවිතයේ සංගමය කණ්ඩායමකින් වගේ.

මචං මිලින්ද - - - -

හ්ම්.

අනිද්ද අපේ නංගිගේ බර්ත් ඩේ පාටි එක-උඹත් වරෙන් - -

බලමු.

බලමු කියල බෑ උඹ කොහොම හරි එන්න ඕනෙ.

මට රවිගේ ඇරයුම ඉවත දමන්න බෑ. මම විජේ සමඟ රෝස්විලා ගාර්ඩන්ස්වල පිහිටි රවීගෙ නිවස සොයාගෙන ආව. රවීලාගෙ ගෙදර සමනල්ලු වගේ කොල්ලො - කෙල්ලො පිපිල ජීවිතවල වේදනාව දුක ඈතට ඈත තල්ලු කරල. හැමෝම හදවත්වල සැහැල්ලුව පුරවගෙන මහ හයියෙන් හිනැහෙනව. වීදුරු ගැටෙන හඬ චියර් - - - ස් - - ගීතාර්යක තතක් බිඳිල නැගෙන අලංකාරය අපි දෙදෙනාව දුටුව රවි ලොකු සතුටකින් ඉදිරියට දුවගෙන එනවා. උඹල දෙන්නම දක්කමයි මට සංතෝෂ හිනහවී රවි කියනව විජේයි-මමයි හිස් වුන දුවු දෙකක ඉඳගත්ත එහාට-මෙහාට ලොකු සතුටකින් ඉදිරියට දුවපනින රවිලගේ නංගී මම දැක්ක. තවත් මොහොතකදී රවි ඇවිත්, අපිට නංගිලව හඳුන්වල දෙනව. රතුම පෙති පවිතෙ සෙලවෙන හඬකින් ඇය කතා කරනව කෙලවරක් නැතිව නාට්‍ය-සාහිත්‍යය සිතමාව ගැන මගෙන් ප්‍රශ්ණ අහනවා. මම ලොකු අසාවකින් උත්තර දෙනව ඈ තර්කයක් මතු කරණව. අපි දෙන්න අතර පුංචි විවාදයක්. ඒ හැම සිද්ධියක්ම සතුටින් කරමින් නැගෙන අලංකාර මියැසිය එන්න ඩාන්ස් කරන්න ඇය මගේ අතින් අදිනව.

ඇයත්-මමත් නටනව. නමුත් අපි දෙන්නගේ දෙනෙත් යුගවල් ගැටිල නිරුත්තරව එකම තැනක මිලිනු. හැමතැනම අලංකාර දෙනව,

විශාඛාවෙ ඉගෙනුම ලැබූ සකුරානි මම කීපවිටක්ම හමු වුණා. ඇතැම් දිනක පුස්තකාලයේ සිට සකුරානිත් මමත් ග්‍රීන්-පාත්මල සුදු වැලිතලාවෙ දෙපා ඔබ ඔබ ආව. ඒ මොහොතෙදි අපි දෙන්න අනාගතය ගැන කොච්චර දේවල් කතා කරන්න ඇද්ද? නමුත් අද අර අතීතයේ කවිඅේ කුමාරිකාවක් සිරකෙරුව වගේ සකුරානිවත් එක්ටැම් ගෙයක සිරකරල. එදා මගේ හොඳම යාලුව රවි අදත් එක්ටැම් ගෙය ආරක්ෂා කරන එකම එක සොල්දාදුව. රවිත් මට විරුද්ධව නැති නිසියට රවි ගැන මගේ හිතේ කිසිම අහිතක් නෑ. මිතු සෙනෙහස පෑ හිතකින් මට කවදාවත් වෛර කරන්න බෑ.

අද උදේ මට ලිපියක් ලැබුණ. එහි තුල බහා තිබුණ ඇරයුම පත මම කියෙව්වේ සැලෙන හදකින් දෙවියනේ සකුරානි බඳිනවලු. හතරට නවල තිබුණ ලියුම් කෑබෙල්ල මම විවර කළා, එහි තිබුණ ඇතැම් වැකි මම කියෙව්වේ මහත් ආයාසයකින් මිලින්ද ඔයා මට වෛර කරන්න එපා දෙවියනේ රවි අයියයි අම්මලයි එකතුවෙලා මාව ඉංජිනේරුවකුට බන්දල දෙන්න සියලු කටයුතු ලෑස්ති කරලා. මේ කාලකන්නි කෙල්ල ඔයාගෙන් අවසාන වශයෙන් එක ඉල්ලීමක් කරණව කොහොමහරි මගේ මංගල්‍යය දවසට ඔයා සහභාගි වෙන්න බෑ - - - බෑ සකුරානි ඒක කොහොමවත් කරන්න බෑ. දෙනෙත් පුග පිරෙන කඳුලැල් පිසමින් මම කෑ ගැහුවෙ.

තවමත් වහිනව. මේක හරියට මුර්ඡාගත වරුසාවක් වගේ. එහෙනම් මම මේ වැස්සට අහුවෙල තෙමිල තෙමිල උමතු වෙන් කෑ ගහගෙන යනවා. හරියට අර ඇකිමිඩීස් නිරුවතින් 'යුරේකා - - යුරේකා - - ' කියමින් ගියා වගේ. එතකොට මුලු හදපත්ලෙන්ම මොරදෙයි - - 'සකුරානි - - - සකුරානි - - - - මම ඔයාට තවමත් ආදරෙයි කියල. මම සකුරානි එවපු ඇරයුම් පත ගුලිකරල සර්පයින් රැලක් පොරකමින් ඇදෙනව වගේ ගලාගෙන යන වතුර කානුවට වීසිකලා. ගුලිගැහුණු ඇරයුම් පත වතුරත් සමග ඈතට ඈත ගසාගෙන ගියා.

සම් මට හමුවෙනව ඇගේ රෝස පැහ දෙතොල් අතර සිහින් සිනහවක් ඇදෙනව මිලින්ද ඇය නමින් කොඳුරනව. මදක් දුරස්ථව සිටි මම ඈ ලඟට තව තවත් සමීප වුණා. සකුරානී - - මගේ මුවින් මට නොදැනීම කෙඳුරනව. සකුරානී - - - මිලින්ද - - - සකුරානි - - - -

# පළිතරු

# ගැහැණුන්ගේ තියෙන ලොකුම දුර්වලකම

**මාතර සේන එච්. වරකාපිටිය**

එන්වුනු හදවත් වෙන් කරන්නත් වෙන්වුණු හදවත් එක් කරන්නත් ඔබට පුලුවන් කියන්නේ ඇත්තද?

★ එහෙම නම් මං මේ ජොබ් එක කරන්නේ නෑ ලමයෝ.

**ජා-ඇල**
පෙ ඩි අප්පුහාමි මැ බඳුගේ

ගැහැණුන්ගේ තියෙන ලොකුම දුර්වලකම කුමක්ද?

★ පිරිමින්ට රැවටීම.

**කෑගල්ලේ තිලක් විල්වල**
**මැණිකේ විල්වල**

දුන් ගැහැණු ලමුන් ගවුමක් ඇඳල ඊට යටින් පේන්න සායක් අඳින්නේ ඇයි?

★ සායෙ-ම හිඟ බව පේන්න.

**තිවිතිගල විමලා ගමගේ**

මේ සෑර ලෝකේ ඇයි මං උපන්නේ?

★ ඔබ විතරක් නොවෙයි තව කෝටි ගණනක් මේ ලෝකෙ ඉපදිල ඉන්නව. නමුත් ලෝකෙ නොවෙයි සෑර අපි.

**ගල්කුලියේ ජෝජ් රොබිසන් ද සිල්වා, ඩිගුරුවෙල ලීලා රංජනී**

අස්සෙල්ලම හමුවුණු දවසේ ඇඬුව. මට දුක හිතුන - ඊට පස්සෙ දුන්?

★ ඔයා අඹනවද?

**කැලණියේ ජී නාරංගොඩ**

ගැහැණිය පිරිමියාගේ වම් පසින් යන්නේ ඇයි?

★ තමන්ගේ ආරක්ෂාවට- වැඩිය 'ඇක්සිඩන්ට්' වෙන්නේ දකුණින් යන එක්කෙනා යි.

**අගුලානේ සීතා නාලිනී ජයවර්ධන**

මම හිතුවෙ නෑ මගේ ලස්සණ ජීවිතය සඳුන්නා බිර [illegible]ගතයකට පෙරලෙයි කියල

★ විස්තර කියන්න ඇයි ඔය දසේ සඳහා ,නාගුණේ.



මහේෂ් වීරසිංහ, සවර්ණා කංවිට, මොරිස් දහනායක සහ බී.එස්. පෙරේරා පෙනී සිටින මේ ජවනිකාව දැනට සාර්ථක ලෙස සිනමා ශාලාවල පෙන්වන සිංහගිරි නිෂ්පාදකයින්ගේ 'ඔන්න බෑබා බිල්ලෝ එනවා.' චිත්‍රපටියෙනි.

මීළඟට වඩා දක්ෂ
**කේ. ඒ. ඩබ්ලිව්. පෙරේරාද?**
**නීල් රූපසිංහද?**

මෙම සුපසිද්ධ චිත්‍රපටි අධ්‍යක්ෂවරු දෙදෙනාගෙන් ඔබේ මතය අනුව වඩා දක්ෂ කවුද යන්න ඉතා කෙටියෙන් සරලව ලියා මෙසේ තැපැල් කරන්න

'කලා'
සංස්කාරක,
117, අලුත් හෙට්ටි වීදිය,
කොළඹ - 13.

**මල්ගල්ලේ**
**ගැමුණු ඩී ලියනගේ**

මම චිත්‍රපටියක ප්‍රධාන චරිතය රඟපෑ අයුරු මම සිහිනෙන් දුටිමි.

★ සිහින බොහෝවිට සැබෑ වෙන්නේ නෑ ගැමුණු.

**මාසිත්තලුව**
**එම්. සිරි කෙ ඩිසිංහ**

කසාදයක් බැඳීමට තිබිය යුතු ප්‍රධාන සුදුසුකම මොකක්ද?

★ පිරිමිකම.

**මල්ගල්ලේ**
**ගැමුණු ඩී. ලියනගේ**

ගැලරිය පිරිමි පක්ෂයට පමණක් සීමාකර ඇත්තේ ඇයි?

★ ඔවගේම තමයි ගැහැණියක් පිරිමින්ට විතරක් සීමා වෙලා- ඒකෙන් තේරෙන්නේ ගැහැණි යයි ගැලරියයි දෙකම එක වගේ.

**සේන එම්. හරකාපිටිය**

කොල්ලකුගෙත් කෙල්ලෙකු ගෙත ඇත දෙක ගැටුණු කල කුමක් වෙයිද?

★ ගින්දර පත්තු වෙයි.

**මාතර පර්සි ඒ. පාඩිපෙරුම**

දුන් කාලෙ කෙල්ලො ඔලුව කවු ගහන්නේ ඇයි?

★ ඔලුවෙ අං නැති නිසා.

**වේරලුම්පල ඉඳුා මාරසිංහ**
**බොරලුකැටියේ**
**ලීලා හේවවිතාරණ**

ජීව වේදනා හදේ නැගෙනා අපේ මේ හදවතට දැනෙනා වාතම්.

★ දැනෙනව දයාබර සොයුරී යකී ඒ වෙනුවෙන් මට කරන්න හැකි හැම දෙයක්ම මමකරනව.

**වරකාපොල ඩී. පී වික්‍රමපාල**

කෙල්ලට තවම මේ කුත් තේරෙන්නේ නැතිලු.

★ ඒ පොත ළමයා.

**දෙමටගොඩ ලීලා රණසිංහ**
**ඩේවිඩ් රණසිංහ**

චිත්‍රපටියකට හාදුව ඇතුලත් කිරීමට අපේ අධ්‍යක්ෂකවරු තවමත් බියද ඇයි?

★ ඔය දෙන්න ෂූටිං වලට එන්නේ නැති නිසා

# “සාරංගා” ගෙන එන

# දයා සහ අමරා



නිරහංකාර සිනාව-කා සමඟත් ගීතවත්ව කථා කරණ හොඳ හිතක් ඇති මිනිහෙක්-අබුතිකයින් පාගා ගැනීම නොව බිම වැටී සිටින අබුතිකයින්ට අතදී නැගිටුවිලන එකමුතු එක කලාකරුවෙක්. පූජනීය වූ සංගීතය නිශ්මාකාරයෙන් රකින සංගීතඥයෙක්-ඒ වෙන කවුරුත් නොව දයාරත්න රණතුංග

පියකරු ඔහුගේ ලප්ප බර සිනාරැල්ල. දක්ෂ ගායිකාවක්. ඒ වගේම සංගීත විද්‍යාලයේ කථිකාචාරිනියක්. සංගීතය උදෙසාම වෙහෙසන ඇය අමරා රණතුංග.

අගෝස්තු 3 4 දිනවල ලුම්බිණි රඟහලේදී පැවැත්වූ ‘සාරංගා’ සංගීතමය ප්‍රසංගය මේ යුවලගේ හපන්කමක්.

අප අතර සිටින ගායක ගායිකාවන් අතර මුල් පෙළට සම කරන්නට හැකි යුවලක් තමා රණතුංග යුවල. ගායනා විලාසත් අනුකාරී නොවන ශෛලියත් සුදුසුකමුත් ඔවුන්ට ඒ තත්වය ප්‍රදානය කර තිබෙනවා. ඔවුන් දෙදෙනම බාත්කණ්ඩයෙහි සංගීතය උගෙනගෙන එහිත් සංගීත විශාරද උපාධි ලබාගත්ත දත් දයාරත්න ගුවන් විදුලියේ සංගීත වැඩ සටහන් නිෂ්පාදකවරයෙක්. අමරා සංගීත විද්‍යාලයේ කථිකාචාර්යවරිය කී ගායක වංශ පරපුරක් බිහි කිරීමේ මවක වත් වූ ඇය අප අතර ජනප්‍රිය ගායිකාවක්.

පවුල පැලේ-ඔබටසි ආඩම්බරේ වස්දඬුරාවය-ආදර සතුටු කුසුම්-

**ලියන්නේ ජයන්ත කලුපහන**

ආදී ගී අමරාගේත් ‘කිරි කවඩි-ත්‍රිකෝණය - සාන්ද්‍ර අහසේ-තරංගය-සූරිය දෙවියෝ - වසන්ති ආදී ගී දයාරත්නගේත් ගායනා කෞශල්‍යය මොනවට පෙන්වන ගී කීපයක්. ඔවුන් දෙදෙනම ගුවන් විදුලියේ සරල සහ ශාස්ත්‍රීය ගායනය පිළිබඳ විශිෂ්ඨ ශ්‍රේණියේ ගායක යුවලක් බව ඔබ දන්නව ඇති

මහනම සේකර ගීත රචනය කරන්නට පටන්ගත් මුල් කාලයේ එනම් ‘මධුවන්ති’ වැඩ සටහන කාලයේ සිට දයා සහ අමරා ගැයූ ගීත ‘සාරංගාව’ ඇතුලත් වෙනවා. සාරංගා සංගීත අංක 25 කින් සමන්විතයි. එම ප්‍රසංගය එදත් අදත් එක්කරන්නක් ලෙසටත් හඳුන්වා දියහැකියි. ඒ නිසා සාරංගා ප්‍රසංගය ගැන දයා සහ අමරාගේ අදහස් මට පැවසුවේ මේ විලසයි.

‘සංගීත ප්‍රසංගයක් ඉදිරිපත් කළයුතුය යන්න අපි සිතුවේ අද ඊයේ නොවේ. නමුත් නොයෙක් හේතුන් උඩ එය ප්‍රමාද වුනා. අද ශ්‍රාවකයාගේ තත්තම ගීත අසන්නාගේ රස විඳීමේ මට්ටම (විඥානය) උසස් මට්ටමකට පැමිණ තියනවා. තාවකාලික විනෝදය පමණක් නොව ගීතයක රචනා ස්වර නිර්මාණය සහ ගායනා විලාශය ගැන විචාරාත්මකව උසස් ආකාරයකට බැලීමට අද ගීත රසිකයින් උත්සාහගන්නවා. කොටින්ම අද ශ්‍රාවකයා තුළ පුළුල් විඥාන ශක්තියක් ඇතිවී තිබේ. එහි යම් යම් ඌනතාවයන් තිබුණද ඒ ඌනතාවයන් සපුරාලිය හැක්කේ අපි නියම සංගීත විඥානය යනු කුමක් දැයි රසිකයාට පෙන්නුම්කළ විටයි. එයට රුකුලක් තමයි සාරංගා. ඒ නිසා අපි සාරංගා සමඟකෙ ළඟින් පවත්ගෙන ගමින් ගමට යනව ඒ අන්තෙත මුලු රටේම ඉන්න ශ්‍රාවකයන්ගේ විඥානය සම මට්ටමකට ගෙන ඒමේ අරමුණ ඇතිවයි. කලාකරුවා ජනතාව වෙතට ලඟාවිය යුතු කාලයකැයි දැන් එළඹී තිබෙනවා. මේ අවස්ථාව අපි පැහැර හරීම යුතු නෑ.

සාරංගා තුලින් ඔබ අලුත් යමක් ඉදිරපත් කරණවද මම ඇසුවා. දයාරත්නගේ උත්තරය මෙයි- ‘ඔව්! අප දැනටමත් උත්සාහ කරන්නේ අලුත් යමක් ඉදිරිපත් කරන්නයි. සරල-ශාස්ත්‍රීය දේශීය ආර සහ පෙර අපර දෙදිග සංගීත ආරයන්හී සංකලනය ආදී වශයෙන් ගීතාංග අප ශ්‍රාවකයා ඉදිරියට ගේන්න උත්සාහ කරනවා මම හැන්ඩපෝනය මවුත්ඕගනය වැනි සංගීත භාණ්ඩත් උපයෝගී කරගෙන තියනවා-සාරංගා සඳහා මේ ප්‍රසංගයෙන් සංගීත ක්ෂේත්‍රයෙ සැහෙන වෙනසක් සලකුණු කිරීමට මම උත්සාහ කරණවා’

රණතුංග යුවල සංගීතය උදෙසා කරණලද සහ කරගෙන යන සේවය අමිල එකක් බව ඔබ පිළිගන්නවා ඇත. ඔවුන් නිසා ගායකයන්වූ රැසක් අප අතර සිටී. මියුස විඥන - සංගීත සන්ධ්‍යාව සහ සවර රංග’ වැඩ සටහන් එයට නිදසුන්ය. ‘ජීවන ගංගා’ චිත්‍රපටියෙන් සංගීත අධ්‍යක්ෂවරයකු ලෙස දයාරත්නගේ දක්ෂතා අපට ඇසිය හැක.

සංගීතය වෙනුවෙන් එදත් අදත් සේවය කරණ සංගීත ක්ෂේත්‍රයෙ සැහෙන වෙනස්කමක් කර මින් මතක සටහන් තබා ඇති දයාරත්න සහ අමරාගේ සහජ දක්ෂතාවයන් තවත් පෙවන්ව ‘සාරංගා’ තුලින් පෙරට ඩිඹිනු දකුම සිංහල සංගීත ලෝලී රසිකයන්ගෙ පැතුම වී ඇත

## අවසිර බාධක...

ප්‍ර : ගුවන් විදුලිය ගැන ඔබේ අදහස කුමක්ද ?

පි : කලාකරුවා සහ ජනතාව සම්බන්ධ කරණ කේන්ද්‍රස්ථානය වන ගුවන් විදුලිය ගැන කතා කරණවට සමහරවිට අපේ කලාකරුවන් ගැන අනුකම්පාවක් මෙන්ම කණගාටුවක් ඇතිවෙනවා. ඊයට හේතුව සමහර කලාකරුවන් එවැනි වැදගත් ස්ථානයක සිට අනෙකුත් සහෝදර කලාකරුවන්ට බාධාවන පරිදි බාධාමවන පරිදි ඔවුන් විසින්ම සාදගත් කූඩු ඇතුලේ සිට අනෙක් අයට කොටන තත්වයක් උදාවී තියෙනවා මේ ගැන අහන කොටත් දකිනවිටත් ඇත්ත වශයෙන්ම මට ලොකු කණගාටුවක් ඇතිවෙනවා.

ප්‍ර : කලාකරුවකු වශයෙන් ඔබේ අනාගත බලාපොරොත්තු මොනවද ?

පි : ඒ ප්‍රශ්ණයට නියම පිළිතුර කාලය විසින් සපයනු ඇතැයි කියා මා විශ්වාස කරනවා.

## සියලුම බොක්ස් ඔෆිස් වාර්තා බිඳ හෙලමින් තිරගතවන දෙවැනි ජනප්‍රිය මාසය.

ගාමිණී ● විජය ● රේකා ● රුක්මනී ● චන්ද්‍රා ● මොඩන් ● සෙන්ට්‍රල් ● ජායා
(මරදාන) (අම්පාර) (කඩුවෙල) (මැල්ලම්පිටිය) (අවිස්සාවේල්ල) (මීදුල්ල) (මාතලේ) (මාවනැල්ල)
සිරිමහල් ● රන්ජනී ● ලිච්චවි ● අප්සරා ● මොඩර්න් ● දුල්මිණි ● මූවිටෝන්
(කුලියාපිටිය) (පාදුක්ක) (අලුත්ගම) (හෝමාගම) (බණ්ඩාරවෙල) (හොරණ) (දලුගම)

ඇතුලු සිතමාස් සිනමාහල්වල

සිංහගිරි නිෂ්පාදකයින්ගේ




ගාමිණී ෆොන්සේකා ● සවර්ණා කහවිට ● ජෝ අබේවික්‍රම ● පියදාස විජේකෝන් ● රීටා රත්නායක ● මොරිස් දහනායක ● රෙක්ස් කොඩිප්පිලි ● සෝනියා දිසා ● ශාන්තිලේඛා ● දෙන් සිරිසේන ● බී. එස්. පෙරේරා ● අග්‍රා සජීවනී ● හෙලන්කුමාරි ● පරිනාලයි ● ලලිතන් ● නිමී ● මහේෂ් වීරසිංහ ● තෙරේසා වීරසිංහ ● ශ්‍රියානි පොන්සේකා ● සිරිල් පතාවල

**දෙබස් :** ආරියරත්න කහවිට. **සංගීතය :** පි. එල්. ඒ. සෝමපාල. **පද මාලා :** කරුණාරත්න අබේසේකර-ධම්සිරි ගමගේ

**ගායනය :** ජෝතිපාල - ලතා වල්පොල - ඇන්ජලීන් ගුණතිලක. **සංස්කරණය :** බර්නාඩ් රෙජිනෝල්ඩ්. **කලා අධ්‍යක්ෂක :** ජේ. ඒ. චන්ද්‍රසේකර. **සහය අධ්‍යක්ෂක :** ඇන්ටන් ග්‍රෙගරි

**නිෂ්පාදක :** සුගතදාස මාරසිංහ. **අධ්‍යක්ෂක :** ලෙනින් මොරායස්.

---

කැපිටෝල් ප්ලාසා දැන් පෙන්වනු ලැබේ.

වී. කේ. රාමසාමි, ශ්‍රීකාන්ත්, ජයා, මනෝරමා, ෂෝ, කුමාර් පද්මිනී රඟපාන

## කාසියාත්‍රායි

කිංස්ලි දැන් පෙනවනු ලැබේ.

කේ. ආර්. විජයා, ජය ශංකර්, සුන්දරරාජන්, මනෝරමා, ෂෝ රඟපාන

## වායාඩි

**අධ්‍යක්ෂක :** මදුර තිරුමාරන්. **සංගීතය :** එම්. එස්. විශ්වනාදන්.

---

ලිඩෝ — (බොරැල්ල)
ජුපිටර් (කුරුණෑගල)

බොම්බායේ නොකඩවා දින 500 ක් ප්‍රදර්ශනය කළ

## වික්ටෝරියා 203

(ඊස්ට්මන් වර්ණ)

● සයිරාබානු ● අශෝක් කුමාර් ● ප්‍රාන් නවීන් නිශ්චල් රඟපාති

**සංගීතය :** කල්‍යාන්ජි ආනන්ජි

සීමාසහිත සිතමාස් සමාගම වෙනුවෙන් ජෝන් ඒ. කල්ලසියා විසින් කොළඹ අළුත් හෙට්ටි වීදියේ අංක: 111 දරණ ස්ථානයේ පිහිටි සීමාසහිත සිනී මුද්‍රණාලයේ මුද්‍රණය කරවා වර්ෂ 1974 අගෝස්තු 15 වැනිදා ප්‍රසිද්ධ කරන ලදී.